

ව්ලදිමීර් දිමිත්‍රියේවිච්
බොන්ච් - බෲයේවිච්
(1873-1955)
සෝවියට් දේශයේ විසූ
සම්භාවනීය දේශපාලනඥයෙකි.
පක්ෂ නායකයෙකි.
ලෙනින්ගේ කිට්ටු සගයෙකු
හා මිතුරෙකි.
වී. බොන්ච්-බෲයේවිච්
රතු
ඔක්තෝබරයේ
මුල් දින
කීපය
සිංහලයට පරිවර්තනය කළේ
උදිත වෛද්‍යසේකර
සී/ස ප්‍රගති ප්‍රකාශන නිවස
91, ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා මාවත, කොළඹ 08



ඔක්තෝබර් විප්ලවයේ මුල් දින කිහිපය තුළ කාගේත් අපේක්ෂාව වූයේ විප්ලවකාරී පෙත්‍රොග්‍රාදයයි. කවුරුත් නොඉවසිල්ලෙන් බලා සිටින්නට විය. බොල්ෂෙවික්වරුන්ගේ මූලස්ථානය වූ “ස්මෝල්නි මන්දිරය” ජනයාගෙන් පිරී ඉතිරී යන්නට විය. විප්ලවකාරී සන්නද්ධ බලකාය රැස් වූයේ එහිදීය. ව්ලදිමීර් ඉල්යිච් ලෙනින් ද එහි සිටියේය. ඔහු තමා හමුවීමට මෙන්ම උපදේශයන් ලබා ගැනීමට පැමිණි විප්ලවවාදීන්ට සුබ පැතුවේය. ඔවුන්ගෙන් විප්ලවයේ වර්තමාන තත්ත්වය ගැන විමසීය. විශේෂයෙන්ම පෙත්‍රොග්‍රාදයට ඉතා කිට්ටුවෙන් පිහිටි “හිම මාළිගය” අත්පත් කර ගැනීමේ වර්තමාන තත්ත්වයන් ද එම මාළිගයට පිවිසුම් මාර්ග අත්පත් කරගැනීමේ තත්ත්වයන් ගැන ද විමසීය.

ව්ලදිමීර් ඉල්යිච් ලෙනින් ද “ස්මෝල්නි මන්දිරයේ” සිටින බවට වූ ආරංචිය බොල්ෂෙවික්වරුන් අතර ඉක්මනින්ම පැතිරිණ. බොහෝ දෙනෙකුට ඔහුව මුණගැසීමට අවශ්‍ය විය. ඔවුහු ඉක්මනින්ම ස්මෝල්නිය කරා පැමිණියහ. කාර්ය භාරයක් නැති සාමාන්‍ය මිනිසුන් ද එහි රැස්විය. ජනමාධ්‍යවේදීන්, විශේෂයෙන්ම විදේශ ජනමාධ්‍යවේදීන්ට ද එම කාර්යාලයට ඇතුළුවීමට අවශ්‍ය විය. ඔවුන්ගේ මූලික නිරීක්ෂණය වූයේ ඔක්තෝබර් විප්ලවයේ සම්බන්ධීකරණ මෙහෙයුම් මධ්‍යස්ථානය බවට එම කාර්යාලය පරිවර්තනය වී ඇති බවයි.

එබැවින් විශ්වාසදායක ආරක්ෂක බලමුළුවක් අවශ්‍ය විය. පන්සියක් පමණ සන්නද්ධ කම්කරුවන් පිරිසක් එහි එක් කාමරයකට වී සිටියහ. “රතු හමුදාව” නිර්මාණය වූයේ



ඔවුන්ගෙනි. එයින් හැත්තෑපහක භටයන් පිරිසක් "ස්මෝල්නියේ" ආරක්ෂක කටයුතු සඳහා වෙන් කිරීමට තීරණය කෙරිණ. වයස අවුරුදු තිහක් පමණ වූ බොකුටු හිසකේවලින් යුත් තරුණ කඩවසම් කම්කරුවෙක් ඔවුන් මෙහෙයවමින් පිරිස එක් පේළියකට සකස් කළේය.

භටයන් දෙදෙනෙක් දොර මුර කරමින් සිටියහ. අණදෙන නිලධාරියා කීවේ හැත්තෑ පස් දෙනෙකුගෙන් යුත් ස්වේච්ඡා බලකායක් අවශ්‍ය බවත් ඔවුන් මරණයට පවා මුහුණ දීමට ශක්තියක් ඇති ඕනෑම අවධානමකට සූදානම් පිරිසක් වියයුතු බවය.

මෙවිට සියලුම සන්නද්ධ කම්කරු භට කණ්ඩායම ඉදිරියට පාදයක් තබා සීරුවෙන් සිටියහ. අණ දෙන තරුණ නිලධාරියා එයින් හැත්තෑ පස්දෙනෙක් තෝරාගත් අතර සහාය සඳහා නිලධාරීන් දෙදෙනෙක් ද පත්කරන ලදී. "ඕනෑම අවශ්‍යතාවයක් සඳහා සූදානමින් සිටින ලෙස" ඔහු අවධාරණයෙන් පවසා නිශ්ශබ්ද විය. ඔවුන් කළ මුල්ම කාර්යය වූයේ කාර්යාලයට ඇතුළුවීමේ බලපත්‍ර නිකුත් කිරීමය. ව්ලදිමීර් ඉල්යිච් ලෙනින්ට අංක එක දරණ බලපත්‍රය ලැබිණ.

"කුමක්ද මේ ඇතුළුවීමේ බලපත්‍රයක් ? කුමකට ද්" ඔහු විමසීය.

ඔබට එය අවශ්‍යයි. හදිසියක දී අවශ්‍යයි. අපි ස්මෝල්නියට ආරක්ෂාව සැපයුවා. ඇවිත් බලන්න. ව්ලදිමීර් ඉල්යිච් ලෙනින් දොර ළඟට ගොස් අවට බැලුවේය. ඔහු සීරුවෙන් හා අවධානයෙන් සිටින ආරක්ෂක බලකාය දුටුවේය.

"ඉතාමත් සතුටුයි තරුණයා, ඔවුන් දෙස බැලීමත් හොඳ ආස්වාදයක්" ඔහු කීවේය.

කම්කරු බලකාය ස්මෝල්නියට පිවිසෙන දොරටුව ද කාර්යාල කාමරය ද මුරකළහ.

අණදෙන නිලධාරී ඉතා ඉක්මනින්ම මධ්‍යම විප්ලවකාරී කමිටුව හා පණිවිඩ සම්බන්ධතා ඇති කළේය. මේ අතර මහජනතාව අතුරු සිදුරු නැතිව ස්මෝල්නිය කරා පැමිණෙමින් සිටියහ.

විලදිමීර් ඉල්යිච් ලෙනින්ගේ ප්‍රධාන අභිලාෂය වූයේ හිම මාළිගාව අල්ලා ගැනීමයි. තාවකාලික රජයේ කැඩෙට් හමුදා නිලධාරීන් මාළිගාව රැකවල් කරමින් සිටියෝය. මෙහෙයුම දියත් වූයේ විප්ලවකාරී හමුදාවේ සැවොල්ස්කි රෙජිමේන්තුව මූලිකත්වයෙනි. හිම මාළිගයට පිවිසෙන මාර්ගයේ වැදගත් ස්ථානයන්හි සිය බලය තහවුරු කර ගැනීම ඔවුන්ගේ පළමු රාජකාරිය විය. ඉන්පසු රෙජිමේන්තුව මාළිගය වැටලීය. අතිරේක විප්ලවකාරී නාවික හමුදා බල ඇණියක් පැමිණි අතර ඔවුන් ඉතා වේගයෙන් හිම මාළිගාවට
පිවිස එහි සියලු වැදගත් දොරටු සියල්ල අත්පත් කරගත්තේය. හිම මාළිගාව අල්ලා ගැනීමේ මෙහෙයුම එසේ ආරම්භ වූ අතර යුද්ධය පැය ගණනාවක් පැවතිණි. සැවොල්ස්කි රෙජිමේන්තුවේ සහ රතු හමුදාවේ සෙබළුන් පසු පසින් පැමිණි අතර විප්ලවකාරී නාවික බල ඇණිය සටනේ පෙරමුණ ගත්හ. මාළිගාවේ අති විශාල දොරටුවලට පහර දෙමින් ඒවා විවෘත කරගත් ඔවුහු මාළිගාවේ පහත මාලයට පිවිසුනහ.

නිවා නදියේ නැංගුරම් දමා ඇති අව්රෝවා නැවේ කාලතුවක්කුකරුවෝ ඔවුනට විප්ලවකාරී හමුදාවේ නියෝගය එන තෙක් බලා සිටියහ.

අව්රෝවා නැවේ කාලතුවක්කු හා පෙත්‍රෝ පාව්ලාව්ස්ක් බලකොටුවේ තුවක්කු එකවිටම ගිගුම් දෙමින් හිම මාළිගාව අල්ලා ගැනීමේ මෙහෙයුම ආරම්භ කිරීමට සංඥාව දුන්නේය.



රතු හමුදාව, නාවිකයන් සහ සෙබළු මාළිගයේ ප්‍රධාන ඇතුල්වීමේ දොරටු, සක්මන් මළු, පිටවීමේ දොරටු හා මාර්ග අල්ලා ගත්හ. ඔක්තෝබර් විසිපස් වෙනි දා රාත්‍රියේදී විප්ලවකාරී බෝල්ෂෙවික් හමුදාව හිම මාළිගාව අත්පත් කර ගත්තේය. තාවකාලික ආණ්ඩුවේ ඇමැතිවරුන් අත්අඩංගුවට ගෙන ඔවුන් ආරක්ෂිත නිළධාරීන් සමඟ පෙත්‍රෝ පාව්ලව්ස්ක් බලකොටුව වෙත යවන ලදී.

තාවකාලික රජයේ ප්‍රධානියා වූ කේරේන්ස්කි, කාන්තාවක් සේ වෙස් වළාගෙන රහස් මාවතකින් ඇමරිකානු තානාපති කාර්යාලයෙන් ලබා දෙන ලද මෝටෝ රියකට නැග පලා ගොස් තිබුණි.

සන්නද්ධ රථයකින් පැමිණි, සම්මුවා කළු කබායක් හා සරුවාලයක් පැළඳගත් සොල්දාදුවෙක් ඉක්මන් ගමනින් සාලය දිගේ පැමිණියේය. ඔහුගේ වම් උරයේ පණිවිඩ ගෙනයන බෑගයක් ද විය.

කාර්යාලයේ දොර අවුරා එහි මුරට සිටි රතු භටයන් දෙදෙනා අමතමින් " විප්ලවකාරී සන්නද්ධ බලකායේ ප්‍රධාන කාර්යාලය කොහේ ද? " ඔහු විමසීය.

"ඔබට අවශ්‍ය වන්නේ කවුරු හමු වන්න ද ?"

"ලෙනින් ! මට ඔහුට භාර දීමට වැදගත් පණිවිඩයක් තියෙනවා. "

එක් රතු භටයෙක් අනිකා අමතමින් කියා සිටියේ "ඔහු පණිවිඩකරුවෙක්, ඔහුට ඇතුළුවීමේ බලපත්‍රයක් දෙන්න. ඔහු මූලස්ථානයට පැමිණියේ ලෙනින් සහෝදරයා හමුවීමටයි. කෝප්‍රල්ට කතා කරන්න."

ආරක්ෂක බලමුළුවේ කෝප්‍රල්වරයා වහාම පැමිණ ඔහු පැමිණියේ කොහෙන්දැයි විමසීය.

"මම පැමිණියේ පද්වෝයිස්කි හි විප්ලවකාරී සන්නද්ධ බලකායේ ප්‍රධානියාගෙන් වැදගත් පණිවිඩයක් අරගෙන, ලෙනින් සහෝදරයාට එය භාරදීමට." ඔහුගේ





කාමරයට ඇතුළුවන විට
සොල්දාදුවා කීය.
"එහෙනම් යමු ඇතුළට "
ව්ලදිමීර් ඉල්යිච් ඔහු
ඉදිරියට පැමිණියේය.
"ඔව් ! කුමක් ද සහෝදරය"
ඔහු විමසීය.
"ඔබ ලෙනින් සහෝදරයා
ද?"
නොඉවසිලිමත් කුතුහලයකින්
හා ගෞරවයකින් යුතුව
පණිවිඩකරුවා ඔහුගෙන් ඇසීය.
ඔහුගේ ඇස් දීප්තිමත් විය. ඔහු
පණිවිඩ පසුම්බිය ඇර ලිපියක්
ලෙනින් සහෝදරයාට භාර දුන්නේය.
ඉන්පසු ඔහුට ආචාර කළ ඔහු එය
"විප්ලවකාරී සන්නද්ධ බලකායේ
ප්‍රධාන අණදෙන නිලධාරියාගෙන්
පණිවිඩයක්" බව කීවේය.
"බොහොම ස්තූතියි සහෝදරයා"
ලෙනින් සහෝදරයා ඔහුට අතට අත
දෙමින් පැවසීය.
සොල්දාදුවා සිය අත් දෙකෙන්ම
ලෙනින් ගේ අත් දෙක දැඩිව ග්‍රහණය
කර ගත්තේය. ඔහුට සිනහවකින්
සංග්‍රහ කර ගෞරවයෙන් ආචාර කළේය.
සිය බූට්ස් යුගලය දැඩිව ශබ්ද කර පෙළ
ගමනින් පිටව ගියේය. මෙලෙස පිටව
යාමේ දී ලෙනින් විසින් ඔහුගේ ලිපිය
භාරගත් බවට දුන් කුවිතාන්සිය ද ඔහු
අතින් ගිලිහී ගියේය.
ව්ලදිමීර් ඉල්යිච් පණිවිඩය උස් හඬින්
කියවන්නට විය.
"හිම මාළිගය අත්පත් කර ගෙන"
තාවකාලික ආණ්ඩුව යටත් වෙලා.
කෙරේන්ස්කි රහස් උමගක් දිගේ පලා
ගොසින්"
ඔහු පණිවිඩය කියවා හමාර වනවාත්
සමගම ඔල්වරසන් හඬින් මුළු පෙදෙසම ගිගුම්
දෙන්නට විය. අසල කාමරයේ රාජකාරියේ නියුතු
රතු භටයන් ද එය අනුකරණය කරන්නට විය.
ඔල්වරසන් හා ජයඝෝසා හඬ සියලුම කාමර සහ
ආලින්දයන් දිගේ ගිගුම් දුන්නේය.

උදෑසන හතරට පමණ අප ස්මොල්නියෙන් පිටත් වුනෙමු. අපි දැඩි වෙහෙසට පත්ව සිටිය ද විප්ලවය ජයගැනීමේ උද්දාමයෙන් දැඩි සතුටට පත්ව සිටියෙමු. මම ව්ලදිමීර් ඉලියිච්ගෙන් මගේ නිවසේ එදින රාත්‍රිය ගතකරන මෙන් ඉල්ලුවෙමි. රෂ්දියෙස්ත්වෙන්ස්කි දිස්ත්‍රික්කයට අනුයුක්ත කර තිබූ විප්ලවකාරී කම්කරු සන්නද්ධ බලකායේ අණදෙන නිලධාරියාව ඇමතූ මම සියලුම මංමාවත්වල ආරක්ෂාව දැඩිව තර කරන ලෙස ඉල්ලුවෙමි.

අවසානයේ දී අපි ස්මෝල්නියෙන් පිටත් වූයෙමු. තවමත් මුළු නගරයම දැඩි අඳුරකින් හා මීදුමෙන් වෙලී ඇත. අපි මොටෝ රියට නැග මගේ නිවස කරා ආවෙමු. ව්ලදිමීර් ඉලියිච් දැඩි වෙහෙසට පත්ව සිටි අතර ඔහු, මෝටර් රථයේ දී නින්දට වැටිණි. නිවසේ ඉතිරිව තිබූ ආහාරවලින් අපි සප්පායම් වුනෙමු. මම ව්ලදිමීර් ඉලියිච් ගේ පහසුකම් ගැන අවධානයෙන් සිටියෙමි. මගේ අධ්‍යයන කාමරයේ ඇති කුඩා ඇඳේ රාත්‍රිය ගත කිරීම සඳහා මම ඔහුව ඉතා අසීරුවෙන් කැමති කරවා ගතිමි. අවසානයේ දී ඔහු ඊට එකඟ විය.

මම ආලින්දයේ ඇති සෝපාව මත වැතුරුනෙමි. ව්ලදිමීර් ඉලිච්ච් නින්දට යන තෙක් මම නිදිවර්ජිතව සිටියෙමි.

අප සියළු දෙනාගේම ආරක්ෂාව ගැන මම සෝදිසියෙන් සිටියෙමි. නිවසට ඇතුළු වන ප්‍රධාන දොර, යකඩ දම්වැලක් දමා වසා දැමුවෙමි. මගේ රිවෝල්වරය සූදානම් කර තබාගත් මා පරික්ෂාවෙන් සිටියේ, යම් ද්‍රෝහියෙකුට දොර කඩා ව්ලදිමීර් ඉලියිච් අත්අඩංගුවට ගෙන මරා දමන්ට හැකිව තිබුණු බැවිනි. අපි ඕනෑම අවධානමකට සූදානම් වී සිටියෙමු .

එවැනි අවස්ථාවක් පැනනැගුන හොත් වහාම විප්ලවකාරී සේනාංකයක් කැඳවීම සඳහා ඔවුන්ගේ දුරකථන අංකයන් මම කුඩා පත්‍රිකාවක සටහන් කළෙමි. ඒවා අතර අපගේ ඉදිරි ආරක්ෂක වළල්ලේ සහෝදරයන්ගේ මෙන්ම ස්මෝල්නියේ ද දිස්ත්‍රික් විප්ලවවාදී සන්නද්ධ බලකායේ සහ වෘත්තීය සමිතිවල ඒවා ද විය.

"හදිසියක දී ඔවුන්ගේ ආරක්ෂාව අමතක කළ නොහැකියි." මම මටම කියා ගත්තෙමි.

ව්ලදිමීර් ඉල්යිච් ඔහුගේ කාමරයේ විදුලි පහන නිවීය. මම ඔහු ගැන අවධානයෙන් සිටියෙමි. ඔහුගේ කාමරයෙන් කිසිම ශබ්දයක් නොඇසුණි. අවසානයේ දී මා ද අඩ නින්දට වැටුණි. ඔහුගේ කාමරයේ දොර යටින් යළිත් කුඩා විදුලි එළියක් මට පෙනුණි.

මම ක්ෂණිකව ඇහැරුනෙමි. ඔහු ඇඳෙන් නැගිට දොර සෙමින් ඇර මගේ කාමරයට පිවිසුණි. ඔහුට අවශ්‍යව තිබුණේ මම නින්දට වැටී ඇති බව සහතිකව දැනගැනීමටය. ශබ්දයක් නොනගින සේ සෙමින් අඩිය තබමින් කාමරයට පිවිසි ඔහු මා දෙස බලා නැවත මේසය අසල ඉඳ ගත්තේය. තීන්ත කුප්පිය ඇර, කඩදාසි කිපයක් ගෙන ඒ මත සටහන් තබමින් වැදගත් ලියවිල්ලක් සකස් කරන බව පෙනිණි.

ව්ලදිමීර් ඉලියිච් ලිවීමට පටන් ගෙන කොටසක් ලියා එය නැවත කියවා එය නැවත සංස්කරණය කර අවසානයේ දී ඔහුගේ ලියවිල්ල සකස් කර ගත්තේය.

අවසානයේ වසන්ත ඍතුවේ පෙත්‍රොග්‍රාද් උදෑසන අළු පාටින් උදාවන විට ව්ලදිමීර් ඉලියිච් විදුලි පහන නිවා නින්දට ගොස් සිටියේය. මම ද ඔහු සමග තද නින්දට වැටුනෙමි.



КЪ ГРАЖДАНАМЪ РОССИИ!

Временное правительство низложено. Дѣло, за которое боролся народъ: немедленное предложение демократическаго мира, отмѣна помѣщичьей собственности на землю, рабочий контроль надъ производствомъ, создание Совѣтскаго правительства — это дѣло обезпечено.

Да здравствуетъ революция рабочихъ, солдатъ и крестьянъ!

Хлѣбъ — голоднымъ!

Землю — крестьянамъ!

Заводы — рабочимъ!

Миръ — народамъ!

Военно-Революционный Комитетъ при Петроградскомъ Совѣтѣ Рабочихъ и Солдатскихъ Депутатов

25 октября 1917 г. 10 ч. утра.




එම උදෑසන මගේ පවුලේ සාමාජිකයන්ට සංසුන්ව සිටින ලෙස පැවසූ මම ව්ලදිමීර් ඉලියිච් පසුගිය දින රාත්‍රිය පුරා වෙහෙසී සිටි බැවින් ඔහු දැඩි ලෙස තෙහෙට්ටුවට පත්ව ඇති බව පැවසුවෙමි.

හදිසියේම ඔහුගේ කාමරයේ දොර ඇරුණි. ඉතාම සංයමයෙන් හා නැවුම් බවින් යුක්ත වූ ඔහු අලුත් ඇඳුමකින් සැරසී ප්‍රීතිමත්ව සිනාමුසු මුහුණින් යුතුව සිටියේ ය.

"සමාජවාදී විප්ලවීය රජයේ මුල් දිනයේ සුබ පැතුම් පිළිගන්න." ඔහු මට සුබ පැතීය.

කිසිදු තෙහෙට්ටු ගතියක් ඔහුගේ මුහුණින් පිළිඹිබු නොවීය. කෙනෙකුට එක් වරම සිතිය හැක්කේ ඔහු මුළු රැය පුරා සුව නින්දක් ලැබූ අයෙකු මෙනි. ඇත්තෙන්ම පැය දෙකක් හෝ තුනක නින්දක් ලැබූ ඔහු පසුගිය පැය විස්ස තුළම ශ්‍රේෂ්ඨ ඔක්තෝබර් විප්ලවය මෙහෙය වීය.

විප්ලවීය බලකායේ සහෝදරවරුන් ද එවිට පැමිණෙමින් සිටියේය. එදින රාත්‍රිය මාගේ නිවසේ ගත කළ නදියෙෂ්දා කොන්ස්තන්තිනොව්නා සහෝදරිය ද අප සමග එක් වූවාය. අප උදෑසන ආහාරය ගැනීමට වාඩිවිය. ව්ලදිමීර් ඉලියිච් ඔහුගේ පසුම්බියෙන් පත්‍රිකා කීපයක් එළියට ගෙන ළදරු සමාජවාදී රුසියාවේ නව ඉඩම් ප්‍රතිපත්තිය පිළිබඳ කෙටුම්පත අපට ඇසෙන ලෙස කියවීය. එය පසු ගිය දින කීපය තුළ ඔහු ඉතා වෙහෙස මහන්සියෙන් කළ අධ්‍යයනයන්ගෙන් ඔහු විසින්ම නිර්මාණය කරන ලද්දකි. අපි මෝටෝරියෙන් ස්මෝල්නිය කරා පිටත් වුනෙමු. ව්ලදිමීර් ඉලියිච්ට අවශ්‍ය වූයේ නගරයේ මංමාවත් සංසුන්ව තිබේ දැයි දැනගැනීමටය.

ව්ලදිමීර් ඉලියිච් නව ඉඩම් කෙටුම්පත ඉතා උද්දාමයෙන් දෙවන සෝවියට් රුසියන් කොංග්‍රසයට ඉදිරිපත් කළ අතර කොංග්‍රසය විසින් එය එදිනම සවස ඒකමතිකව සම්මත කරන ලදී.

එදින සවස දෙවන සෝවියට් රුසියානු කොංග්‍රසය සාමය පිළිබඳ කෙටුම්පත ද සම්මත කළේය.

ප්‍රිය මිතුරනි,

මෙම කුඩා කෘතිය ලියන ලද්දේ ශ්‍රේෂ්ඨ ඔක්තෝබර් විප්ලවයට සහභාගි වූ එහි විප්ලවකාරී සන්නද්ධ බලකායේ ඉහළ අණදෙන නිලධාරියෙකු වූ වී.ඩී බොන්ච් බ්‍රියෙවිච් විසිනි. මෙම පොතට ඇතුළත් කරන ලද ඡායාරූප තෝරාගනු ලැබුවේ සෝවියට් රුසියාවේ මොස්කව් නුවර විප්ලවීය කෞතුකාගාරයේ සංරක්ෂණය කර ඇති ඡායාරූප එකතුවෙනි. ඔක්තෝබර් විප්ලවය සිදු වී දැනට වසර 98 ගෙවී ඇත. එම කාලය තුළ දී ආර්ථික ව්‍යාධියෙන් පෙලුණු පසුගාමී රාජ්‍යයක් වූ රුසියාව අද ලෝක බලවතෙකු බවට පත්ව ඇත. මෙම ඡායාරූපයෙන් පෙන්වන කුඩා දරුවන් හට තම රට ගැන වැටහීමක් ඇත. රුසියාව ලෝක බලවතෙකු බව ඔවුන් දනී. එනමුත් ඔක්තොබර් විප්ලවයට සක්‍රීයව දායක වූ පැරණි කොමියුනිස්ට්වාදියෙකු වන වසිලි පෙත්‍රෝවිච් විනොග්‍රාද්ෆ් එම අතීතය ගැන කියන රසවත් කතාව සාවධානව අසා සිටී.

(මෙම ඡායාරූපය 1977 දී ගන්නා ලද එකක් බව සලකන්න.)

